# ලකුණු බෙදී යාමේ ආකාරය

| | | | | |
|---|---|---|---|---|
| I පත්‍රය | - | I කොටස 01 x 40 | = | 40 |
| | | II කොටස | = | <u>60</u> |

<u>100</u>

| | | |
|---|---|---|
| II පත්‍රය | = | 100 |
| | = | $\frac{100 + 100}{2}$ |
| අවසාන ලකුණු | = | 100 |

## උත්තරපත්‍ර ලකුණු කිරීමේ පොදු ශිල්පීය ක්‍රම

උත්තරපත්‍ර ලකුණු කිරීමේ හා ලකුණු ලැයිස්තුවල ලකුණු සටහන් කිරීමේ සම්මත ක්‍රමය අනුගමනය කිරීම අනිවාර්යයෙන් ම කළ යුතුවේ. ඒ සඳහා පහත පරිදි කටයුතු කරන්න.

1. උත්තරපත්‍ර ලකුණු කිරීමට රතුපාට බෝල් පොයින්ට් පෑනක් පාවිච්චි කරන්න.

2. සෑම උත්තරපත්‍රයකම මුල් පිටුවේ සහකාර පරීක්ෂක සංකේත අංකය සටහන් කරන්න. ඉලක්කම් ලිවීමේදී **පැහැදිලි ඉලක්කමෙන්** ලියන්න.

3. ඉලක්කම් ලිවීමේදී වැරදුණු අවස්ථාවක් වේ නම් එය පැහැදිලිව තනි ඉරකින් කපා හැර නැවත ලියා කෙටි අත්සන යොදන්න.

4. එක් එක් ප්‍රශ්නයේ අනු කොටස්වල පිළිතුරු සඳහා හිමි ලකුණු ඒ ඒ කොටස අවසානයේ △ ක් තුළ ලියා දක්වන්න. අවසාන ලකුණු ප්‍රශ්න අංකයත් සමග □ක් තුළ, භාග සංඛ්‍යාවක් ලෙස ඇතුළත් කරන්න. ලකුණු සටහන් කිරීම සඳහා පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා ඇති තීරුව භාවිත කරන්න.

**උදාහරණ :ප්‍රශ්න අංක 03**

(i) ........................................................ √ △ $\frac{4}{5}$
........................................................
........................................................

(ii) ........................................................ √ △ $\frac{3}{5}$
........................................................
........................................................

(iii) ........................................................ √ △ $\frac{3}{5}$
........................................................
........................................................

(03) (i) $\frac{4}{5}$ + (ii) $\frac{3}{5}$ + (iii) $\frac{3}{5}$ = $\boxed{\frac{10}{15}}$

## බහුවරණ උත්තරපත්‍ර : (කවුළු පත්‍රය)

1. අ.පො.ස. (උ.පෙළ) හා තොරතුරු තාක්ෂණ විභාගය සඳහා කවුළු පත්‍ර දෙපාර්තමේන්තුව මගින් සකසනු ලැබේ. නිවැරදි වරණ කපා ඉවත් කළ සහතික කරන ලද කවුළුපතක් ඔබ වෙත සපයනු ලැබේ. සහතික කළ කවුළු පත්‍රයක් භාවිත කිරීම පරීක්ෂකගේ වගකීම වේ.

2. අනතුරුව උත්තරපත්‍ර හොඳින් පරීක්ෂා කර බලන්න. කිසියම් ප්‍රශ්නයකට එක් පිළිතුරකට වඩා ලකුණු කර ඇත්නම් හෝ එකම පිළිතුරක්වත් ලකුණු කර නැත්නම් හෝ වරණ කැපී යන පරිදි ඉරක් අඳින්න. ඇතැම් විට අයදුම්කරුවන් විසින් මුලින් ලකුණු කර ඇති පිළිතුරක් මකා වෙනත් පිළිතුරක් ලකුණු කර තිබෙන්නට පුළුවන. එසේ මකන ලද අවස්ථාවකදී පැහැදිලිව මකා නොමැති නම් මකන ලද වරණය මත ද ඉරක් අඳින්න.

3. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබන්න. නිවැරදි පිළිතුර ✓ ලකුණකින් ද, වැරදි පිළිතුර 0 ලකුණකින් ද වරණ මත ලකුණු කරන්න. නිවැරදි පිළිතුරු සංඛ්‍යාව ඒ ඒ වරණ තීරයට පහළින් ලියා දක්වන්න. අනතුරුව එම සංඛ්‍යා එකතු කර මුළු නිවැරදි පිළිතුරු සංඛ්‍යාව අදාළ කොටුව තුළ ලියන්න.

## ව්‍යුහගත රචනා හා රචනා උත්තරපත්‍ර :

1. අයදුම්කරුවන් විසින් උත්තරපත්‍රයේ හිස්ව තබා ඇති පිටු හරහා රේඛාවක් ඇඳ කපා හරින්න. වැරදි හෝ නුසුදුසු පිළිතුරු යටින් ඉරි අඳින්න. ලකුණු දිය හැකි ස්ථානවල හරි ලකුණු යෙදීමෙන් එය පෙන්වන්න.

2. ලකුණු සටහන් කිරීමේදී ඕවර්ලන්ඩ් කඩදාසියේ දකුණු පස තීරය යොදා ගත යුතු වේ.

3. සෑම ප්‍රශ්නයකටම දෙන මුළු ලකුණු උත්තරපත්‍රයේ මුල් පිටුවේ ඇති අදාළ කොටුව තුළ ප්‍රශ්න අංකය ඉදිරියෙන් අංක දෙකකින් ලියා දක්වන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස් අනුව ප්‍රශ්න තෝරා ගැනීම කළ යුතුවේ. සියලු ම උත්තර ලකුණු කර ලකුණු මුල් පිටුවේ සටහන් කරන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස්වලට පටහැනිව වැඩි ප්‍රශ්න ගණනකට පිළිතුරු ලියා ඇත්නම් අඩු ලකුණු සහිත පිළිතුරු කපා ඉවත් කරන්න.

4. පරීක්ෂාකාරීව මුළු ලකුණු ගණන එකතු කොට මුල් පිටුවේ නියමිත ස්ථානයේ ලියන්න. උත්තරපත්‍රයේ සෑම උත්තරයකටම දී ඇති ලකුණු ගණන උත්තරපත්‍රයේ පිටු පෙරළමින් නැවත එකතු කරන්න. එම ලකුණ ඔබ විසින් මුල් පිටුවේ එකතුව ලෙස සටහන් කර ඇති මුළු ලකුණට සමාන දැයි නැවත පරීක්ෂා කර බලන්න.

## ලකුණු ලැයිස්තු සකස් කිරීම :

සියලු ම විෂයන්හි අවසාන ලකුණු ඇගයීම් මණ්ඩලය තුළදී ගණනය කරනු නොලැබේ. එබැවින් එක් එක් පත්‍රයට අදාළ අවසාන ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවලට ඇතුළත් කළ යුතු ය. I පත්‍රය සඳහා බහුවරණ පිළිතුරු පත්‍රයක් පමණක් ඇති විට ලකුණු ලැයිස්තුවට ලකුණු ඇතුළත් කිරීමෙන් පසු අකුරෙන් ලියන්න. අනෙකුත් උත්තරපත්‍ර සඳහා විස්තර ලකුණු ඇතුළත් කරන්න. 51 චිත්‍ර විෂයයේ I, II හා III පත්‍රවලට අදාළ ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවල ඇතුළත් කර අකුරෙන් ද ලිවිය යුතු වේ.

***

(නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus)

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2019 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2019 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2019

භූගෝල විද්‍යාව I
புவியியல் I
Geography I

22 S I

2019.08.28 / 1300 - 1610

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

උත්තර පත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා පමණි

විභාග අංකය : ................................

**උපදෙස්:**

* මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. **I කොටස** බහුවරණ ප්‍රශ්න **40** කින් සමන්විත වන අතර, ඒවාට පිළිතුරු **මෙම පත්‍රයේ ම** සැපයිය යුතු ය.
* I කොටසේ නිවැරදි පිළිතුරක් සඳහා ලකුණු **එක** බැගින් හිමි වේ.
* II කොටසෙහි ප්‍රශ්න **දෙකට ම** පිළිතුරු සැපයිය යුතු ය.
* III කොටස ප්‍රශ්න **හතරකින්** සමන්විත වන අතර තෝරාගත් ප්‍රශ්න **දෙකකට** පමණක් පිළිතුරු සැපයිය යුතු ය.
* I, II සහ III කොටස්වල පිළිතුරු පත්‍ර එකට අමුණා භාර දිය යුතු ය.

**පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි.**

| | ප්‍රශ්න අංකය | ලකුණු |
|---|---|---|
| I කොටස | 1 - 40 | |
| II කොටස | 1 | |
| | 2 | |
| III කොටස | 3 | |
| | 4 | |
| | 5 | |
| | 6 | |
| එකතුව | | |

| | අත්සන | සංකේත අංකය |
|---|---|---|
| 1 වන පරීක්ෂක | | |
| 2 වන පරීක්ෂක | | |
| අතිරේක ප්‍රධාන පරීක්ෂක | | |
| ප්‍රධාන පරීක්ෂක | | |
| ගණිත පරීක්ෂක | | |

**I කොටස**

● ප්‍රශ්නවලට නිවැරදි පිළිතුර අඩංගු වරණය තෝරා, එහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ ඇති **තිත් ඉර මත** ලියන්න.

**1.** පහත දැක්වෙන ප්‍රකාශ අතුරෙන් භූ ලක්ෂණ සිතියමක ඇති සමෝච්ඡ රේඛා පිළිබඳ ව නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) සමෝච්ඡ රේඛා මගින් භූමියේ සියලු භෞතික ලක්ෂණ නිරූපණය කරයි.
(2) සමෝච්ඡ රේඛා අඳිනු ලබන්නේ 40 m ක අන්තරයකිනි.
(3) සෑම අවස්ථාවක දී ම සමෝච්ඡ රේඛා දැක්වෙන්නේ තිත් ඉරි මගිනි.
(4) සමෝච්ඡ රේඛා මගින් භූමියේ සමාන උච්ඡත්ව යා කර පෙන්වයි.
(5) සමෝච්ඡ රේඛා ඍජු රේඛා ලෙස ඇඳ ඇත. (......)

**2.** ශ්‍රී ලංකාවේ 1: 50,000 භූ ලක්ෂණ සිතියමක මුහුණතෙහි දිග පළල වන්නේ,
(1) 40 cm × 25 cm (2) 50 cm × 30 cm (3) 60 cm × 40 cm
(4) 70 cm × 40 cm (5) 80 cm × 50 cm (......)

**3.** පර්යේෂණයක දී යොදා ගන්නා ප්‍රධාන දත්ත වර්ග දෙකක් වන්නේ,
(1) සිතියම් හා ගුවන් ඡායාරූප ය.
(2) සංගණන වාර්තා හා පුවත්පත් ය.
(3) ප්‍රාථමික හා ද්විතීයික ය.
(4) සමීක්ෂණ හා මිනුම් ය.
(5) නිරීක්ෂණ හා සම්මුඛ සාකච්ඡා ය. (……)

**4.** නිරීක්ෂණය මගින් රැස් කළ දත්තවලට උදාහරණයක් වනුයේ,
(1) වී වගා කිරීම සඳහා භාවිත යෙදවුම් ප්‍රමාණයයි.
(2) ග්‍රාම නිලධාරී කොට්ඨාශයක ජන සංඛ්‍යාවයි.
(3) සුපිරි වෙළෙඳසැලක් තුළ පාරිභෝගික චර්යාවයි.
(4) කාර්යාලයීය කාර්ය සහයකයින්ගේ අධ්‍යාපන මට්ටමයි.
(5) කුටුම්භයක ආදායම් මාර්ගයි. (……)

**5.** භූගෝලීය තොරතුරු පද්ධතියක සෘජුවම භාවිතයට ගත හැකි දත්ත යුගලය වන්නේ,
(1) චන්ද්‍රිකා ප්‍රතිබිම්බ හා සුපරීක්ෂණ (Scanned) දත්ත ය.
(2) දෛශික (Digital) දත්ත හා මුද්‍රිත දත්ත ය.
(3) සුපරීක්ෂණ දත්ත හා දෛශික දත්ත ය.
(4) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධති (GPS) දත්ත හා සන්තතික දත්ත ය.
(5) ඛණ්ඩාංක හා දෛශික දත්ත ය. (……)

**6.** භූ ලක්ෂණ සිතියමක ඇති භෞතික ලක්ෂණ දෙකක් වන්නේ,
(1) උන්නතාංශය හා ජල සම්පාදනයයි.
(2) භෝග වගාව හා ජල සම්පාදනයයි.
(3) ජලවහනය හා මාර්ග පද්ධතියයි.
(4) භූ විෂමතාව හා ජලවහනයයි.
(5) ජල සම්පාදනය හා මාර්ග පද්ධතියයි. (……)

**7.** අංකිත සිතියම් සකස් කිරීම සඳහා යොදා ගනු ලබන උපකරණයක් වන්නේ,
(1) මාලිමාවයි.
(2) තියෝඩලයිටයයි.
(3) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධති (GPS) ග්‍රාහකයයි.
(4) සුපරීක්ෂණයයි (Scanner).
(5) මිනුම්පටියයි. (……)

**8.** නගරයක ජන සංයුතිය නිරූපණය කිරීම සඳහා වඩාත් සුදුසු වන්නේ,
(1) ජාල රේඛයයි.
(2) බෙදන ලද වෘත්ත ප්‍රස්තාරයයි.(pie graph).
(3) රේඛා ප්‍රස්තාරයයි.
(4) තිත් සිතියමයි.
(5) විසරණ සටහනයි. (……)

**9.** රේඛා සහ තීරු (bars) ලෙස එකම ප්‍රස්තාරයකින් දැක්විය හැකි දත්ත වනුයේ,
(1) ජන ඝනත්වය සහ ජන ව්‍යාප්තියයි.
(2) වර්ෂාපතනය හා උෂ්ණත්වයයි.
(3) භූමි පරිභෝජනය හා ජනගහනයයි.
(4) ආනයනය හා අපනයනයයි.
(5) ආගමනය හා විගමනයයි. (……)

**10.** දත්ත ව්‍යාප්තියක විචලනය පන්ති ප්‍රාන්තර අනුව සකස් කර ඉදිරිපත් කරනු ලබන සිතියම් ක්‍රමයක් වන්නේ,
(1) රේඛාංකිත සිතියමයි.
(2) භූ ලක්ෂණ සිතියමයි.
(3) ධාරා සිතියමයි.
(4) තිත් සිතියමයි.
(5) සම සංඛ්‍යා සිතියමයි. (……)

**11.** පහත දැක්වෙන ඒවා අතුරෙන් පළමු ගණයේ භූ රූප දෙකක් දැක්වෙන වරණය කුමක් ද?
(1) ගිනි කඳු හා කඳු වැටි
(2) මහද්වීපික බෑවුම් හා පළිහ ප්‍රදේශ
(3) මහද්වීප හා සාගර
(4) කඳු වැටි හා පළිහ ප්‍රදේශ
(5) මහද්වීප හා දූපත් (……)

**12.** ආවෘත පද්ධතියකට උදාහරණයක් වනුයේ,
(1) සෞරග්‍රහ මණ්ඩලයයි.
(2) ජෛවී පද්ධතියයි.
(3) නිවර්තන වැසි වනාන්තර පද්ධතියයි.
(4) ජලවහන ද්‍රෝණියයි.
(5) තෘණ භූමි පරිසර පද්ධතියයි. (……)

**13.** පෘථිවියේ ප්‍රාවරණය හරයෙන් වෙන් කොට දක්වන ගුටෙන්බර්ග් අසන්තතිය පිහිටා ඇත්තේ පෘථිවි මතුපිට සිට කොපමණ ගැඹුරකින් දැයි නිවැරදිව දැක්වෙන වරණය කුමක් ද?
(1) 1550 km (2) 1750 km (3) 2100 km (4) 2200 km (5) 2990 km (......)

**14.** ශක්ති ඛනිජයක් දැක්වෙන වරණය කුමක් ද?
(1) මොනසයිට් ය. (2) ක්‍රෝමියම් ය. (3) ෆෙල්ඩ්ස්පාර් ය.
(4) මැග්මටයිට් ය. (5) ලිමොනයිට් ය. (......)

**15.** විපරිත පාෂාණයකට උදාහරණයක් දැක්වෙන වරණය කුමක් ද?
(1) ග්‍රැනයිට් (2) හුණු ගල් (3) ෂිස්ට්
(4) ක්වාර්ට්සයිට් (5) වැලි ගල් (......)

**16.** අපසාරී චලන නිසා නිර්මාණය වූ භූ ලක්ෂණයකට උදාහරණයක් වන්නේ,
(1) මධ්‍ය සාගරික වැටි ය. (2) හිමාලයා කඳු වැටිය ය.
(3) මරියානා ආගාධය ය. (4) හවායි දූපත් ය.
(5) රොකී කඳු ය. (......)

**17.** භූමි කම්පාවලින් බහුතරයක් හටගන්නා පෘථිවියේ ප්‍රධාන කලාපය කුමක් ද?
(1) පැසිෆික් වළල්ල කලාපය (2) මධ්‍යධරණී හිමාලය කලාපය
(3) මධ්‍ය අත්ලාන්තික් සාගරික කලාපය (4) අප්‍රිකානු සුවිභේද නිම්න කලාපය
(5) දකුණු ඇමෙරිකානු කලාපය (......)

**18.** විසුවියස් යමහල පිහිටා ඇති රට කුමක් ද?
(1) පිලිපීනය (2) ඉන්දුනීසියාව (3) ජපානය
(4) ඉතාලිය (5) මෙක්සිකෝව (......)

**19.** පහත දැක්වෙන වරණ අතුරෙන් ආක්‍රාන්ත යමහල් භූ ලක්ෂණයක් සඳහා උදාහරණයක් වන්නේ,
(1) කල්දෙරාව ය. (2) යමහල් කේතු ය. (3) ලාවා සානු ය.
(4) ඩයික ය. (5) සංයුක්ත කේතු ය. (......)

**20.** ශ්‍රී ලංකාවේ පළමුවන අන්තර්-මෝසම් වර්ෂාව ලැබෙන කාල පරිච්ඡේදය වන්නේ,
(1) මාර්තු - අප්‍රේල් වේ. (2) අගෝස්තු - සැප්තැම්බර් වේ.
(3) ඔක්තෝම්බර් - නොවැම්බර් වේ. (4) අප්‍රේල් - මැයි වේ.
(5) නොවැම්බර් - දෙසැම්බර් වේ. (......)

**21.** ශ්‍රී ලංකාවේ උපරිම වර්ෂාපතනයක් වාර්තා වන ස්ථානය වන්නේ,
(1) යටියන්තොට ය. (2) හැටන් ය. (3) වටවල ය.
(4) මාලිබොඩ ය. (5) තලවාකැලේ ය. (......)

**22.** පහත දැක්වෙන වරණ අතුරෙන් හරිතාගාර වායු විමෝචනයේ ප්‍රධාන මූලාශ්‍ර තුනක් අවරෝහණ ක්‍රමයට දැක්වෙන්නේ කුමන වරණයෙහි ද?
(1) ශක්ති පථය, කාර්මික පථය, වනහරණය
(2) ශක්ති පථය, ප්‍රවාහන පථය, කෘෂිකර්ම පථය
(3) කාර්මික පථය, වනහරණය, ප්‍රවාහන පථය
(4) කෘෂිකර්ම පථය, ප්‍රවාහන පථය, කාර්මික පථය
(5) වනහරණය, කෘෂිකර්ම පථය, ප්‍රවාහන පථය (......)

**23.** කිසියම් ප්‍රදේශයක දේශගුණය නිර්ණය කිරීම සඳහා කොපමණ වර්ෂ සංඛ්‍යාවක කාලගුණික දත්ත අවශ්‍ය වන්නේ ද?
(1) වර්ෂ 15 (2) වර්ෂ 20 (3) වර්ෂ 30 (4) වර්ෂ 40 (5) වර්ෂ 50 (......)

**24.** පහත දැක්වෙන වරණ අතුරෙන් නිවර්තන වැසි වනාන්තර පිහිටා ඇති ප්‍රදේශ දැක්වෙන්නේ කුමන වරණයෙහි ද?
(1) ආසියාව, අප්‍රිකාව, දකුණු ඇමෙරිකාව හා පැසිෆික් සාගරික දූපත්
(2) ඔස්ට්‍රේලියාව, අප්‍රිකාව, දකුණු ඇමෙරිකාව හා මැඩගස්කර්
(3) ආසියාව, අප්‍රිකාව, උතුරු ඇමෙරිකාව හා මධ්‍යම ඇමෙරිකාව
(4) ආසියාව, දකුණු ඇමෙරිකාව, දකුණු යුරෝපය හා පැසිෆික් සාගරික දූපත්
(5) දකුණු අප්‍රිකාව, චීනය, දකුණු ඇමෙරිකාව හා පැසිෆික් සාගරික දූපත් (......)

**25.** ශ්‍රී ලංකාවේ දෙවැනි දිගම ගංගාව වන්නේ,
(1) කළු ගඟ ය. (2) කලා ඔය ය. (3) මල්වතු ඔය ය.
(4) කැලණි ගඟ ය. (5) වළවේ ගඟ ය. (……)

**26.** ජන සංඛ්‍යාව වියපත් වීමට හේතු වන සාධක දෙකක් ඇතුළත් නිවැරදි වරණය කුමක් ද?
(1) ආයු අපේක්ෂාව ඉහළ යාම සහ සාඵල්‍යතාව ඉහළ යාම.
(2) ආයු අපේක්ෂාව පහළ යාම සහ මරණ ශීඝ්‍රතාව අඩු වීම.
(3) ආයු අපේක්ෂාව ඉහළ යාම සහ සාඵල්‍යතාව පහළ බැසීම.
(4) ආයු අපේක්ෂාව පහළ යාම සහ විවාහ ශීඝ්‍රතාව පහළ යාම.
(5) ආයු අපේක්ෂාව ඉහළ යාම සහ විවාහ ශීඝ්‍රතාව ඉහළ යාම. (……)

**27.** 'බ්ලූ බනානා' (blue banana) නමින් හැඳින්වෙන නාගරික-කාර්මික වේදිකාව විහිදෙන්නේ,
(1) චිකාගෝ සිට පිට්ස්බර්ග් දක්වා ය.
(2) බොස්ටන් සිට වොෂිංග්ටන් දක්වා ය.
(3) වයඹදිග එංගලන්තයේ සිට ජිනෝවා දක්වා ය.
(4) ටෝකියෝ සිට ඔසාකා දක්වා ය.
(5) ග්ලාස්ගෝ සිට බුඩාපෙස්ට් දක්වා ය. (……)

**28.** ප්‍රාථමික ආර්ථික ක්‍රියාකාරකම් දෙකක් ඇතුළත් නිවැරදි වරණය වන්නේ,
(1) කෘෂිකර්මය සහ නිෂ්පාදන කර්මාන්තයයි.
(2) ආකර කර්මාන්තය සහ මසුන් මැරීමයි.
(3) ආකර කර්මාන්තය සහ ප්‍රවාහනයයි.
(4) කෘෂිකර්මය සහ වෙළෙඳාමයි.
(5) මසුන් මැරීම සහ නිෂ්පාදන කර්මාන්තයයි. (……)

**29.** බහුජාතික සමාගමක් යනුවෙන් හැඳින්වෙන්නේ,
(1) විවිධ ජාතීන්ට අයත් පුද්ගලයන් කණ්ඩායමක් විසින් ක්‍රියාත්මක කරන සමාගමකි.
(2) බොහෝ සංවර්ධනය වන රටවල කර්මාන්ත සඳහා මුදල් ආයෝජනය කිරීමට පිහිටු වූ සමාගමකි.
(3) මව් රටේ පිහිටි සමාගමට අතිරේක වෙනත් රටවල ද ශාඛා පිහිටුවා ඇති සමාගමකි.
(4) ලෝක වෙළඳ සංවිධානය විසින් පිහිටුවා ඇති සමාගමකි.
(5) ඉහළ වටිනාකමක් ඇති භාණ්ඩ සමුදායක් නිපදවන සමාගමකි. (……)

**30.** වගාවට යොදවා ඇති භූමි ප්‍රමාණය ප්‍රසාරණය සීමා වීමට හේතුව වන්නේ,
(1) බොහෝ සංවර්ධනය වන රටවල කෘෂිකාර්මික තාක්ෂණය හිඟ වීම ය.
(2) ලෝකයේ වගාවට ගත හැකි භූමියෙන් වැඩි ප්‍රමාණයක් දැනටමත් ඒ සඳහා යොදවා තිබීම ය.
(3) ගොවීන් වශයෙන් රැකියා කිරීමට කැමති තරුණ අය අඩු වීම ය.
(4) රජයට අයත් භූමිය වගාව සඳහා යෙදවීමට රජය අකමැති වීම ය.
(5) කෘෂිකාර්මික භූමිය ප්‍රසාරණය කිරීම ගෝලීය උණුසුම් වීම නිසා සීමා වීම ය. (……)

**31.** නාගරික ජනාවාස ධුරාවලියේ පහළ ම හා සංකීර්ණත්වයෙන් අඩු ම ජනාවාසය වන්නේ,
(1) ගොවිපොළ ය. (2) ගම ය. (3) නගරය ය.
(4) කුඩා ගම ය. (5) පුරවරය ය. (……)

**32.** පහත දැක්වෙන පිළිතුරු අතුරෙන් ජනසංඛ්‍යාවක ඇති ලක්ෂණ හතරක් දැක්වෙන වරණය කුමක් ද?
(1) උපත්, මරණ, සංක්‍රමණය හා වර්ධනය
(2) උපත්, මරණ, ආගමනය හා විගමනය
(3) සාඵල්‍යතාව, මෘත්‍යතාව, සංයුතිය හා සංක්‍රමණය
(4) විශාලත්වය, ව්‍යාප්තිය, සංයුතිය සහ වර්ධනය
(5) විශාලත්වය, ව්‍යුහය, ස්වාභාවික වර්ධනය සහ සංක්‍රමණය (……)

**33.** ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ අයත්වන්නේ පහත දැක්වෙන කුමන නගර වර්ගයට ද?
(1) සංස්කෘතික (2) පරිපාලන (3) නේවාසික
(4) කාර්මික (5) වාණිජ (……)

**34.** දකුණු ආසියාවේ අධිකතම නාගරික ජනසංඛ්‍යා ප්‍රතිශතයක් සහිත රට වන්නේ,
(1) ඉන්දියාවයි. (2) ශ්‍රී ලංකාවයි. (3) බංග්ලාදේශයයි.
(4) මාලදිවයිනයි. (5) පකිස්තානයයි. (……)

**35.** පහත දැක්වෙන වරණ අතුරෙන් පුම්තිරි අනුපාතය විස්තර කරන්නේ කුමන වරණයෙහි ද?
(1) ජනසංඛ්‍යාවේ ස්ත්‍රීන් 100 කට සිටින පුරුෂයින් සංඛ්‍යාව
(2) ජනසංඛ්‍යාවේ පුරුෂයින් 100 කට සිටින ස්ත්‍රීන් සංඛ්‍යාව
(3) ජනසංඛ්‍යාවේ ස්ත්‍රීන් 1000 කට සිටින පුරුෂයින් සංඛ්‍යාව
(4) ජනසංඛ්‍යාවේ පුරුෂයින් 1000 කට සිටින ස්ත්‍රීන් සංඛ්‍යාව
(5) ජනසංඛ්‍යාවේ ස්ත්‍රීන් 10 කට සිටින පුරුෂයින් සංඛ්‍යාව (……)

**36.** පහත දැක්වෙන වරණ අතුරෙන් ශ්‍රී ලංකාවේ මිනිරන් නිෂ්පාදනයේ කැපී පෙනෙන ලක්ෂණයක් නිවැරදිව දැක්වෙන්නේ කුමන වරණයෙහි ද?
(1) නිෂ්පාදනයෙන් අධික ප්‍රමාණයක් දේශීය කර්මාන්ත විසින් ප්‍රයෝජනයට ගනී.
(2) නිෂ්පාදන පිරිවැය පහළ යමින් පවතී.
(3) නිෂ්පාදනයෙන් 99% ක් ම අපනයනය කෙරේ.
(4) නිෂ්පාදන ක්‍රියාවලිය අධික ලෙස යාන්ත්‍රීකරණයට පත්ව ඇත.
(5) පෞද්ගලික අංශය නිෂ්පාදනයට හවුල් වී නොමැත. (……)

**37.** ජනාවාසයක ඉතා වැදගත් සංරචකය කුමක්ද?
(1) සමාජය (2) නිවාස (3) ජාල (4) මිනිසා (5) පරිසරය (……)

**38.** 1987 වර්ෂයේ සිට ශ්‍රී ලංකාවේ නාගරික පරිපාලන ඒකකයක් වශයෙන් සලකනු **නොලැබුවේ**,
(1) සුළුනගර සභා ය. (2) ප්‍රාදේශීය ආදායම් පාලක කොට්ඨාස ය.
(3) මහනගර සභා ය. (4) උපදිසාපති කොට්ඨාස ය.
(5) නගර සභා ය. (……)

**39.** ශ්‍රී ලංකාවේ තෙත් කලාපයේ ජනසංඛ්‍යාවේ ගතිලක්ෂණ සම්බන්ධ නිවැරදි පිළිතුර කුමක් ද?
(1) අධික ජනසංඛ්‍යාව හා ඉහළ ජනසංඛ්‍යා වර්ධන ශීඝ්‍රතාව ය.
(2) අඩු ජනසංඛ්‍යාව හා පහළ ජනසංඛ්‍යා වර්ධන ශීඝ්‍රතාව ය.
(3) අධික ජනසංඛ්‍යාව හා පහළ ජනසංඛ්‍යා වර්ධන ශීඝ්‍රතාව ය.
(4) අධික ජනඝණත්වය හා ඉහළ ජනසංඛ්‍යා වර්ධන ශීඝ්‍රතාව ය.
(5) අඩු ජනඝණත්වය හා පහළ ජනසංඛ්‍යා වර්ධන ශීඝ්‍රතාව ය. (……)

**40.** ආකර කර්මාන්තය නිෂ්කර්ශක කර්මාන්තයක් වශයෙන් හැඳින්වීමට හේතුව කුමක් ද?
(1) යකඩ සහ වානේ කර්මාන්තයට අවශ්‍ය අමුද්‍රව්‍ය මෙමගින් සැපයීම නිසා ය.
(2) ඛනිජ සම්පත් කැණීමට සීමා වූ කර්මාන්තයක් නිසා ය.
(3) ඛනිජ සම්පත් බහුල ප්‍රදේශවල කෙරෙන කර්මාන්තයක් නිසා ය.
(4) සාරාගන්නා ඛනිජවලින් විශාල ප්‍රමාණයක් නිෂ්කාශනය කරන නිසා ය.
(5) සාරාගන්නා ඛනිජවලින් විශාල ප්‍රමාණයක් ප්‍රාථමික ආර්ථික ක්‍රියාකාරකම්වලට යොදවන නිසා ය. (……)

* *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்

## අ.පො.ස. (උ.පෙළ) විභාගය/க.பொ.த. (உயர் தர)ப் பரீட்சை - 2019

## නව නිර්දේශය/ புதிய பாடத்திட்டம

විෂයය අංකය / பாட இலக்கம் **22**

විෂයය / பாடம் **භූගෝල විද්‍යාව**

## ලකුණු දීමේ පටිපාටිය/புள்ளி வழங்கும் திட்டம்

### I පත්‍රය / பத்திரம் I

| ප්‍රශ්න අංකය<br>வினா இல. | පිළිතුරු අංකය<br>விடை இல. | ප්‍රශ්න අංකය<br>வினா இல. | පිළිතුරු අංකය<br>விடை இல. | ප්‍රශ්න අංකය<br>வினா இல. | පිළිතුරු අංකය<br>விடை இல. | ප්‍රශ්න අංකය<br>வினா இல. | පිළිතුරු අංකය<br>விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 4 | 11. | 3 | 21. | 4 | 31. | 3 |
| 02. | 5 | 12. | 2 | 22. | 1 | 32. | all |
| 03. | 3 | 13. | 5 | 23. | 3 | 33. | 2 |
| 04. | 3 | 14. | 1 | 24. | 1 | 34. | 4 |
| 05. | 5 | 15. | 4 | 25. | 3 | 35. | 1 |
| 06. | 4 | 16. | 1 | 26. | 3 | 36. | 3 |
| 07. | 3 | 17. | 1 | 27. | 3 | 37. | 4 |
| 08. | 2 | 18. | 4 | 28. | 2 | 38. | 1 |
| 09. | 2 | 19. | 4 | 29. | 3 | 39. | 3 |
| 10. | 1 | 20. | 1 | 30. | 2 | 40. | 2 |

✪ විශේෂ උපදෙස්/ விசேட அறிவுறுத்தல் :
එක් පිළිතුරකට/ ஒரு சரியான விடைக்கு 02 ලකුණු බැගින්/புள்ளி வீதம்
මුළු ලකුණු/மொத்தப் புள்ளிகள் 2 × 40 = 80

## II කොටස

- ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව විසින් ප්‍රකාශයට පත් කරන ලද 1 : 50,000 පරිමාණයේ දඹුල්ල භූ ලක්ෂණ සිතියමෙන් කොටසක් ඔබට සපයා ඇත. එහි සමෝච්ච රේඛා අන්තරය මීටර 20 කි. එම සිතියම පදනම් කරගනිමින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

**01. (i) AB සහ CD රේඛා දෙක මගින් දක්වා ඇති භූ රූප ලක්ෂණ <u>දෙක</u> නම් කරන්න.**

AB - කපොල්ල / ගෙල කපොල්ල

CD - අවතල බෑවුම

**(ලකුණු 02 යි)**

**(ii) E සහ F චතුරස්‍ර මගින් දක්වා ඇති ජලවහන ලක්ෂණය හා භූ රූප ලක්ෂණය පිළිවෙලින් නම් කරන්න.**

E - වාරි මාර්ග ඇළ / වාරි ඇළ / වාරි මාර්ගය

F - නිම්නය / V-හැඩ නිම්නය

**(ලකුණු 02 යි)**

**(iii) G සහ H සම්බන්ධ කෙරෙන රේඛාව ඔස්සේ හරස්කඩක් (cross section) අඳින්න.**

**(මේ සඳහා 6 වන පිටුවෙහි දී ඇති ප්‍රස්තාර කඩදාසි යොදා ගන්න.)**




**පරිමාණයට ලකුණු 1 යි,**

**හරස්කඩ ලකුණු 02 යි,**

**(ලකුණු 03 යි)**

**(iv) එම හරස්කඩින් දැක්වෙන ප්‍රදේශයේ භූ විෂමතාව සහ භූමි පරිහරණය අතර සබඳතාව කෙටියෙන් විස්තර කරන්න.**

හරස්කඩින් දැක්වෙන ප්‍රදේශයෙහි උතුරු දකුණු දිශාවට විහිදෙන කඳුවැටි දෙකක් සහ ඒ අතර පිහිටි පුළුල් නිම්නයක් දක්නට ලැබේ. එහි G අක්ෂරයෙන් දැක්වෙන ස්ථානය 500m ඉක්ම වූ උසින් යුක්ත වන අතර එය මීටර් 200 අඩු පහළ මට්ටමක පිහිටි නිම්නයේ දක්වා සීඝ්‍ර බෑවුමක් පෙන්නුම් කරයි. නිම්නයේ සිට H අක්ෂරයෙන් දැක්වෙන ස්ථානය දක්වා බෑවුම අවතල හැඩයෙන් යුක්තය. මේ අනුව හරස්කඩින් දැක්වෙන්නේ කඳු සහ නිම්න ප්‍රදේශයකි.

ප්‍රදේශයේ භූමි පරිහරණය ගෙවතු, වී ගොවිතැන සහ වෙනත් වැවිලි වශයෙන් හඳුනාගත හැකිය. නිම්නය හරහා ප්‍රධාන මාර්ගයන් විහිදෙන අතර අප්‍රධාන මාර්ගයක් ඊට එක්වන ස්ථානයෙහි පාසලක් පිහිටා ඇත. නිම්න ප්‍රදේශයේ තැනිතලා බව හා පහළ උන්නතාංශයක් පිහිටීම ගෙවතු හා වී ගොවිතැනට බලපා ඇත. නිම්නයට බටහිරින් පිහිටි කඳු බෑවුම් ප්‍රදේශය හා නැගෙනහිර කඳුවැටියෙහි බෑවුම්වල වෙනත් වැවිලි ව්‍යාප්තව ඇත.

හරස්කඩින් දැක්වෙන ප්‍රදේශයේ මේ අනුව කඳු සහ නිම්න ප්‍රදේශයන්ට පොදු වූ භූමි පරිහරණ ලක්ෂණ විද්‍යාමාන වේ.

**කරුණු 2 ට ලකුණු $1\frac{1}{2} \times 2 = 03$**

**(v) සිතියම් ප්‍රදේශයෙහි භූ විෂමතා ලක්ෂණ සහ ප්‍රවාහන ජාලය අතර සබඳතාව සාකච්ඡා කරන්න.**

සිතියම් ප්‍රදේශයේ නැගෙනහිර හා බටහිර මායිම් ආශ්‍රිතව කඳුකර ප්‍රදේශ සහ මධ්‍යයේ පහත් බිම් දක්නට ලැබේ. බටහිර අර්ධයේ කඳුවැටි අතර උතුරු දකුණු දිශාවට විහිදෙන නිම්නයකි. සිතියමෙහි දකුණු සීමාව ආසන්න ප්‍රදේශයේ පහත් බිම් සහ පුළුල් නිම්නයක් දැකිය හැකිය.

සිතියම් ප්‍රදේශයේ ප්‍රවාහන ජාලය දකුණෙහි පිහිටි ප්‍රධාන මාර්ගයක කොටසකින් සහ කඳුවැටි අතර නිම්න ඔස්සේ විහිදෙන අප්‍රධාන මාර්ග කරත්ත / ජීප් රථ මාර්ග සහ අඩිපාර වලින් සමන්විත වේ. ප්‍රධාන මාර්ගය ගංගා නිම්නය අනුව නැගෙනහිර - බටහිර දිශානුගතව ප්‍රදේශය හරහා විහිදේ. මාර්ග ව්‍යාප්තවීමේ දී භූ විෂමතාව දැඩි ලෙස බලපා ඇත. සිතියම් ප්‍රදේශයේ බොහෝ කොටස් සඳහා පහසුකම් නොපවතී. ප්‍රදේශයේ භූ විෂමතාව අනුව හැඩගැසී ඇති භූමි පරිහරණය සහ ජනාවාස ව්‍යාප්තිය අනුව මාර්ග ජාලය ව්‍යාප්ත වන බව පැහැදිලි වන බව පැහැදිලි වේ.

**කරුණු 2 ට ලකුණු $2\frac{1}{2} \times 2 = 05$**

**(vi) සිතියමේ J ලෙස ලකුණු කර ඇති චතුරස්‍රයෙහි දැක්වෙන ප්‍රදේශයේ භූමි පරිහරණයෙහි ස්වභාවය විස්තර කරන්න.**

සිතියමෙහි J ලෙස ලකුණු කර ඇති චතුරස්‍රයට අයත් ප්‍රදේශය තුළ භූමි පරිහරණය ඉතා අවම මට්ටමක පවතී. මීටර් 400 ඉක්මවන ඉහළ උන්නතාංශයකින් සහ බෑවුම් ස්වභාවයකින් පිහිටි මෙම ප්‍රදේශය තුළ භූමි පරිහරණය සඳහා භූ විෂමතා ලක්ෂණ බාධක ලෙස බලපා ඇත.

ප්‍රදේශයේ කඳුවැටි අතර නිම්න සහ කපොලු ඔස්සේ නැගෙනහිර බටහිර දිශානුගතව කරත්ත / ජීප් රථ මාර්ගයක් විහිදේ. කඳු බෑවුම සහ කඳු මුදුන වනාන්තර වලින් වැසී ඇති අතර සෙසු ප්‍රදේශයන් හි ලඳු කැලෑ දැකිය හැක. ඒ අනුව චතුරස්‍රයට අයත් භූමි ප්‍රදේශය සංවර්ධන නොවූ මිනිස් කටයුතු සඳහා අයෝග්‍ය ප්‍රදේශයක් ලෙස කිව හැකිය.

**කරුණු 2 ට ලකුණු $2\frac{1}{2} \times 2 = 05$**

**02. ඔබ වෙත සපයා ඇති ලෝක ආකෘති සිතියමෙහි සම්මත සංකේත හා වර්ණ යොදාගනිමින් පහත සඳහන් දෑ ලකුණු කර නම් කරන්න.**

(i) රොකී කඳු **(දුඹුරු)**
(ii) හොවැංහෝ ගංගාව **(නිල්)**
(iii) කලහාරි කාන්තාරය **(කහ)**
(iv) එරල් මුහුද (විල) **(නිල්)**
(v) සයිප්‍රස් දූපත **(නම් කිරීම)**
(vi) මලක්කා සමුද්‍ර සන්ධිය **(කලු ඉරක්)**
(vii) ග්‍රිනිච් මධ්‍යාහ්න රේඛාව **(කළු)**
(viii) ජාත්‍යන්තර සහල් පර්යේෂණ ආයතනය පිහිටි නගරය **(රතු තිත)**
(ix) චීනයෙහි අධික ලෙස වායු දූෂණයට ලක්වී ඇති නගරය **(රතු තිත)**
(x) ලතින් ඇමෙරිකාවේ ප්‍රධානතම යපස් නිෂ්පාදන රට **(නම් කිරීම)**

(ලකුණු 10 යි)




**(කරුණු 1 × 10 = 10 යි)**

## III කොටස

**03. (i). දත්ත සහ තොරතුරු අතර වෙනස දක්වන්න.**

දත්ත යනු ''විමර්ෂණය හෝ විශ්ලේෂණය හෝ සඳහා රැස්කල කරුණු හා සංඛ්‍යා වේ. එම දත්ත සංවිධානය හා සකස් කොට නොමැති දළ කරුණුය.

තොරතුරු යනු සංවිධානය හා සකස් කොට නොමැති දළ කරුණු සංවිධානය කොට සකස් කිරීමෙන් පසුව අර්ථාන්විතව ප්‍රයෝජනවත් ලෙස ඉදිරිපත් කිරීමයි.

(ලකුණු 1 + 1 = 02)

**(ii). ප්‍රාථමික දත්ත සහ ද්විතීයික දත්ත අතර වෙනස සාකච්ඡා කරන්න.**

| ප්‍රාථමික දත්ත | ද්විතියික දත්ත |
|---|---|
| • පර්යේෂකයා විසින් තම අරමුණ සඳහා රැස්කරන ලද දත්ත | • වෙනස් අරමුණු සඳහා කිසියම් පුද්ගලයකු හෝ ආයතනයක් විසින් රැස්කරන ලද දත්ත. |
| • පර්යේෂකයා ක්ෂේත්‍රයට ගොස් අදාළදත්ත රැස්කර ගනී. | • දත්ත ලබා ගැනීමට ගතවන කාලය හා පිරිවැය අඩුය. |
| • දත්ත රැස් කිරීම සඳහා ගතවන කාලය, ශ්‍රමය හා පිරිවැය අධිකය. | • දත්තවල විශ්වාසනියත්වය අඩුය. |
| • දත්තවල විශ්වාසනියත්වය ඉහළය. | |
| ලකුණු 1 × 2 = 02 යි | ලකුණු 1 × 2 = 02 යි |

(ලකුණු 2 + 2 = 04 යි)

**(iii). ප්‍රාථමික දත්ත රැස්කරනු ලබන ක්‍රම *හතරක්* හඳුන්වන්න.**

1. ප්‍රශ්නාවලිය
2. සම්මුඛ සාකච්ඡා
3. නිරීක්ෂණ
4. මිනුම්

**1. ප්‍රශ්නාවලිය :-**

අධ්‍යයනයට අදාළව සකස්කරගත් ප්‍රශ්නාවලියක් භාවිතයෙන් දත්ත එක් රැස් කිරීම ප්‍රශ්නාවලියක් භාවිතයෙන් දත්ත එක් රැස් කිරීම ප්‍රශ්නාවලි සමීක්ෂණ නම් වේ. ක්ෂේත්‍ර විමර්ශකයින් මාර්ගයෙන් හෝ තැපැල් මගින් හෝ ප්‍රශ්නාවලිය අදාළ පුද්ගලයින් වෙත යොමුකර පිළිතුරු ලබා ගැනීම මෙහිදි සිදු වේ.

2. **සම්මුඛ සාකච්ඡා**

පරීක්ෂණය සඳහා තෝරාගන්නා ලද සංගහනයේ හෝ නියදියේ සාමාජිකයන් මුණගැසී සාකච්ඡා මගින් අවශ්‍ය දත්ත ලබා ගැනීම.

3. **නිරීක්ෂණ**

අධ්‍යයනයට අදාළ තොරතුරු ක්ෂේත්‍රයට තුල ගී නිරීක්ෂණය කිරීමෙන් ලබාගැනීම මෙයින් අදහස් කෙරේ. නිරීක්ෂණය දෙයාකාරය. ඒ සෘජු නිරීක්ෂණය හා සහභාගිත්ව නිරීක්ෂණය ලෙසයි.

4. **මිනුම්**

භූගෝල විද්‍යාවේ දී වැදගත්වන කාලගුණ දේශගුණ දත්ත රැස් කිරීම සඳහා මිනුම් කිරීම මින් අදහස් වේ.

උදා :- **වර්ෂාපතනය, උෂ්ණත්වය, උන්නතාංශය**

**(ලකුණු 1× 4 = 04 යි)**

**(iv). ප්‍රාථමික දත්ත රැස්කිරීමේ දී මුහුණ දෙන ගැටලු *දෙකක්* කෙටියෙන් පැහැදිලි කරන්න.**

- වැඩි කාලයක්, ශ්‍රමයක් හා ධනයක් වැඩ කිරීමට සිදුවේ. අදාළ මෙවලම් සූදානම් කර ගැනීම, පුහුණු කිරීම් සිදු කිරීම උපකරණ මිල දී ගැනීම හා භාවිතය පිළිබඳ ප්‍රමාණවත් පුහුණුව.
- ප්‍රතිචාර දක්වන්නන්ගේ දැනුම භාෂාව හා ආකල්ප පර්යේෂකයා අපේක්ෂිත දැනුමක් ප්‍රතිචාර දක්වන්නන් තුල තිබීම. ඔහු සමග අදහස් හුවමාරු කරගැනීමට පවතින හැකියාව, ප්‍රතිචාර දක්වන්නන් පර්යේෂකයින් පිළිබඳ දක්වන ආකල්ප.
- ප්‍රතිචාර දක්වන්නන්ගේ කාර්ය බහුලත්වය.
- පාරිසරික බාධක හා සේවා කාර්යක්ෂමතාවය.
- පුද්ගල බද්ධ වීම

**ලකුණු $2\frac{1}{2} \times 2 = 05$ යි**

**04. (i). සිතියමක් (map) යනුවෙන් අදහස් කරනුයේ කුමක් ද?**

පෘථිවි තලය මතුපිට ඇති ත්‍රිමාන භෞතික හා සංස්කෘතික ලක්ෂණ පරිමාණයකට අනුව සම්මත වර්ණ, සංකේත, අක්ෂර භාවිතාකොට පැතලි තලයක් මත සංක්ෂිප්තව ඇඳ දැක්වීම.

**(ලකුණු 02 යි)**

**(ii). විශාල පරිමාණයේ සිතියමක් සහ කුඩා පරිමාණයේ සිතියමක් අතර වෙනස දක්වන්න.**

| **කුඩා පරිමාණ සිතියම** | **විශාල පරිමාණ සිතියම** |
|---|---|
| • විශාල ප්‍රදේශයක් ඇතුලත් වේ. | • කුඩා ප්‍රදේශයක් ඇතුලත් වේ. |
| • සීමිත තොරතුරු ප්‍රමාණයක් දැක්වේ. | • සාපේක්ෂව විශාල තොරතුරු ප්‍රමාණයක් ඇතුලත් වේ. |
| • කියවීම තරමක් අසීරු වේ. | • කියවීම සාපේක්ෂව අපහසුය. |

**එක් පරිමාණයකින් කරුණු දෙක බැගින් පරිමාණ දෙකෙන් දැක්වීම.**

**(ලකුණු 0.5× 2 = 02 යි)**

**(iii). භූ ලක්ෂණ සිතියමකින් ඇති ප්‍රයෝජන *<u>දෙකක්</u>* කෙටියෙන් විස්තර කරන්න.**

- භූමියේ යම් ප්‍රදේශයක නිරපේක්ෂ හා සාපේක්ෂ පිහිටීම හඳුනාගත හැකිවීම.
- භූ ලක්ෂණ වෙන්කොට හඳුනාගැනීම හා භූ ලක්ෂණ අතර ඇති සබඳතාව අවබෝධකර ගැනීම.
- ප්‍රදේශයක පවතින ජල වහන රටාව හා භූ විෂමතාව අතර සබඳතාව පිළිබඳ අවබෝධයක් ලබාගත හැකිවීම.
- පරිපාලන මායිම් පැහැදිලිව වෙන්කර හඳුනාගත හැකිවීම.
- සංවර්ධන කටයුතුවලදී මෙම සිතියම් භාවිතා කල හැකිවීම.
- සමස්ථ භෞතික හා මානව පරිසරය තේරුම්ගත හැකිවීම.

**(ලකුණු $2\frac{1}{2}$ × 2 = 05 යි)**

**(iv). තේමා සිතියම්වල වාසි *දෙකක්* සහ අවාසි *දෙකක්* කෙටියෙන් සාකච්ඡා කරන්න.**

**තේමා සිතියම්වල වාසි :-**

- එක් තේමාවක් හෝ දෙකක් පමණක් යොදා ගැනීම නිසා අදාළ තොරතුරු ඉතා පහසුවෙන් හඳුනාගත හැකිවීම.
- එක් තේමාවක් හෝ කීපයක් භාවිතා කිරීම නිසා නිර්මාණය පහසුය.
- එක් තේමාවක පවතින ව්‍යාප්ත රටාව තවත් තේමාවක ඇතුලත් කිරීමෙන් පහසුවෙන් අවබෝධ කරගත හැකිවීම.
- තේමා සිතියම් දත්තවල ස්වරූපය හා අවශ්‍යතාවය මත විවිධාකරයට නිර්මාණය කල හැකිවීම.
- විවිධ පරිමාණයෙන් සිතියම් ඉදිරිපත් කිරීමට පවතින හැකියාව.

**(ලකුණු $1\frac{1}{2}$ × 2× 2 = 06 යි)**

**තේමා සිතියම්වල අවාසි :-**

- සුවිශේෂි අවශ්‍යතාවයක් මත නිර්මාණය කරන සිතියම් බැවින් පොදු භාවිතයේ දී තොරතුරු සීමා සහිත වේ.
- සංඛ්‍යා ශ්‍රේණියක තොරතුරු නිරූපනය කිරීම නිසා සැබෑ සංඛ්‍යා දත්ත පිළිබඳව අවබෝධයක් ලබා ගැනීම අපහසුය.
- තේමා ගණනාවක් සිතියම් අවශ්‍ය වූ විට ඒ සඳහා වෙන් වෙන්ව සිතියම් තේමාවන් සඳහා සිතියම් සකස් කල යුතුවීම.

**05. (i). 2009 සහ 2012 වර්ෂවල දී ශ්‍රී ලංකාවේ දළ දේශීය නිෂ්පාදිතයට කාර්මික අංශයේ දායකත්වය** ***වගුව*** **1 හි දැක්වේ.**

**වගුව 1:** 2009 සහ 2012 වර්ෂවල දී ශ්‍රී ලංකාවේ දළ දේශීය නිෂ්පාදිතයට කාර්මික අංශයේ දායකත්වය (රුපියල් මිලියනවලින්)

| | **කාර්මික අංශය** | **2009** | **2012** |
|---|---|---|---|
| 1 | ආකර කැනීම් | 60 079 | 84 672 |
| 2 | නිෂ්පාදනය කිරීම් | 458 660 | 520 938 |
| 3 | විදුලිය, ගෑස් හා ජලය | 63 567 | 72 634 |
| 4 | ඉදිකිරීම් | 177 912 | 247 091 |

**මූලාශ්‍රය:** ජන හා සංඛ්‍යා ලේඛන දෙපාර්තමේන්තුව (2012)

(i) 2012 වර්ෂයේ දී ශ්‍රී ලංකාවේ දළ දේශීය නිෂ්පාදිතයට කාර්මික අංශයේ දායකත්වය දැක්වීම සඳහා බෙදන ලද වෘත්ත ප්‍රස්තාරයක් අඳින්න. (මේ සඳහා වෙනම ප්‍රස්තාර කඩදාසියක් ලබා ගන්න.)

ශ්‍රී ලංකාවේ දළ දේශීය නිෂ්පාදනයට කාර්මික අංශයේ දායකත්වය - 2012 (රුපියල් මිලියනවලින්)




මූලාශ්‍රය- ජන ලේඛන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුව, කොළඹ, 2012.

| කාර්මික අංශය | 2012 | $360^0$ | % |
|---|---|---|---|
| නිෂ්පාදනය කිරීම් | 520938 | 203 | 56 |
| ඉදි කිරීම් | 247091 | 96 | 27 |
| ආකර කැනීම් | 84672 | 33 | 9 |
| විදුලිය ගෑස් හා ජලය | 72634 | 28 | 8 |
| | 925335 | 360 | 100 |

**ලකුණු ලබා දෙන පිළිවෙළ**

- දක්ෂිණාවර්තව දැක්වීම — ලකුණු 1
- වැඩි එකේ සිට අඩු අගය දක්වා දැක්වීම — ලකුණු 1
- ගණනය කිරීම් සඳහා — ලකුණු 1.5
- මාතෘකාව දැක්වීම — ලකුණු 0.5
- මූලාශ්‍රය දැක්වීම — ලකුණු 0.5
- සුචිය දැක්වීම — ලකුණු 0.5

**(ලකුණු 05 යි)**

**(ii). ඔබ අඳින ලද ප්‍රස්තාරයෙහි වාසි *දෙකක්* සහ අවාසි *දෙකක්* පැහැදිලි කරන්න.**

**වාසි :-**

- සංයුතිය පෙන්නුම් කරන ඕනෑම විචල්‍යක් සඳහා මෙම ප්‍රස්තාර ක්‍රමය සුදුසුය.
- වෘත්තයේ අංශක ගණණ අනුව උප කොටස් වල විශාලත්වය හඳුනාගත හැකිවීම.
- පරිමාණය අනුව දත්ත හැකිලීමට ලක්කරන, නිසා විශාල දත්ත වුවද මෙමගින් පහසවෙන් ඉදිරිපත් කල හැකිය.

**(ලකුණු 1 × 2 = 02 යි)**

**අවාසි :-**

- විශාල අන්තරයක් සහිත දත්ත සඳහා සුදුසු වුවද කුඩා සංඛ්‍යා නිරූපණය කිරීම සඳහා සුදුසු නොවේ.
- නිර්මාණය තරමක් අපහසු වීම.
- වරකට දැක්විය හැක්කේ එක් විචල්‍යක් පමණක් වීම.
- අගයන් පිළිබඳ දළ අදහසක් මිස සැබෑ වටිනාකම් මෙමගින් දැනගත නොහැකි වීම

**(ලකුණු 1 × 2 = 02 යි)**

**(iii). ශ්‍රී ලංකාවේ දළ දේශීය නිෂ්පාදිතයට කාර්මික අංශයේ දායකත්වයෙහි කැපීපෙනෙන ලක්ෂණ *දෙකක් වගුව අංක 1* හි දත්ත ඇසුරෙන් කෙටියෙන් විස්තර කරන්න.**

- 2009 හා 2012 වර්ෂ සංසන්දනය කල විට මෙහි යන්නේ කාර්මික අංශයේ නිෂ්පාදනය කිරීම් අංශය ඉහලම දායකත්වය දරයි. වර්ධනය 11.5% වේ. (62298), දායකත්වය 56% කි.
- දෙවන ස්ථානය ඉදි කිරීම් අංශය වන අතර 2009, 2012 දක්වා කාලය තුල 28% ක වර්ධනයක් පෙන්නුම් කරයි. (64179) දායකත්වය 27% කි.
- ආකර හා කැනිම් අංශයේ සමස්ථ දායකත්වය අඩු වුවද 2009 සිට 2012 වන විට 29% ක වැඩිම වර්ධනයක් පෙන්නුම් කරයි. (24593) දායකත්වය 9% කි.
- විදුලිය, ගෑස් හා ජලය අංශයේ දායකත්වය අඩුම වන අතර 2012 සිට වර්ධනය 12.4% කි. (9067) දායකත්වය 8% කි.

**(ලකුණු $1\frac{1}{2}$ × 2 = 03 යි)**

**(iv).** ***වගුව අංක 1*** **හි දත්ත ඉදිරිපත් කළ හැකි වෙනත් සිතියම් විද්‍යාත්මක ක්‍රමයක් යෝජනා කර එහි යෝග්‍යතාව කරුණු *දෙකක්* මගින් පැහැදිලි කරන්න.**

**බහු තීරු ප්‍රස්තාරය (සමූහ / සැසඳුම් තීරු)**

- කාණ්ඩ කිපයකට අයත් දත්ත සංසන්දනාත්මකව ඉදිරිපත් කල හැකිවීම.
- විචල්‍යක උප කොටස්වල වටිනාකම් කාලය හෝ වර්ගය අනුව වෙනස්වන ආකාරය නිරූපනය කල හැකිවීම.
- කාණ්ඩ අතර මෙන්ම කාණ්ඩ ඇතුලත විවිධත්වය සංසන්දනය කල හැකිවීම.
- විචල්‍ය ගණනාවක කාලීන වෙනස්කම් එක් ප්‍රස්තාරයකින් දැනගත හැකිවීම.

**යෝජනා කිරීමට 1**
**යෝග්‍යතාව 1 x 2**
**3**

**සංයුක්ත තීරු ප්‍රස්තාරය**

- විචල්‍යයේ මුළු වටිනාකම මෙන්ම උප කොටස්ද නිරූපනය කල හැකිවීම.
- එක් එක් උප කොටස්වලට නිශ්චිත පරිමාණ භාවිතා කිරීම මගින් උප කොටස් අතර වෙනස පැහැදිලිවම අවබෝධකරගත හැකිවීම.
- ප්‍රතිශත අගයන් ලෙස දැක්වීමේ දී උප කොටස් අතර සාපේක්ෂ වෙනස පහසුවෙන් අවබෝධ කරගත හැකිවීම.
- විචල්‍යවල මුළු වටිනාකම හා සංයුතිය එකම ප්‍රස්තාරයකින් දැක්වීම තීරු ගණනාවක් නිර්මාණය කිරීමට පවතින හැකියාව.

**(ලකුණු $1\frac{1}{2} \times 2 = 03$ යි)**

# භූගෝල විද්‍යාව II

## 1 කොටස - භෞතික භූගෝල විද්‍යාව

01. **(i). අන්තර්ජනා‍ය බලවේග හා බහිර්ජනා‍ය බලවේග යනුවෙන් අදහස් කරන්නේ කුමක්දැයි සඳහන් කරන්න.**

(ලකුණු 1× 2 = 02)

- අන්තර්ජනා‍ය බලවේග යනු පෘථිවි අභ්‍යන්තරය තුළ ක්‍රියාත්මක වන බලවේගයන් ය. මෙම බලවේග උත්පාදනය වන්නේ බාහිර හරය තුළ ඇති මූල ද්‍රව්‍යවල සිදුවන විකිරණශීලි හෝ රසායනික ප්‍රතික්‍රියාවන් නිසා ඇතිවන උණුසුම් සංවහන ධාරාවල ප්‍රතිඵලයක් වශයෙනි.

- පෘථිවි පෘෂ්ඨයෙන් පරිබාහිරව ක්‍රියාත්මක වන බලවේග බහිර්ජනා‍ය බලවේග ලෙස හඳුන්වයි. එනම් සුළඟ, ගලා යන ජලය, ග්ලැසියර් හා සාගර තරංග වේ. මෙම කාරකවල ක්‍රියාකාරීත්වය හේතුවෙන් පෘථිවිය මත පවතින භූ රූප වෙනස්වන අතර නව භූ රූප නිර්මාණය වීම ද සිදු වේ.

**(ii). ශිලාගෝලය තුළ ක්‍රියාත්මක වන සම්පීඩන බලවේග මගින් නිර්මාණය වන නැමි වර්ග තුනක් කෙටියෙන් විස්තර කරන්න.**

(ලකුණු 2× 3 = 06)

- සමමිතික නැම්ම
- අසමමිතික නැම්ම
- ඒකානති නැම්ම
- සමානති නැම්ම
- ඔත් නැම්ම
- උලැඟි නැම්ම
- උඩුනැමි මඩුල්ල හා යටිනැමි මඩුල්ල

**සමමිතික නැම්ම :**

දෙපසින් එල්ල වන බලවේග එක සමාන වූ විට බාහු දෙකකින් යුත් සමමිතික නැම්මක් නිර්මාණය වේ. උඩු නැමි හා යටි නැමි සමාන වන අතර නැමි අක්ෂය පෘථිවියට ලම්භකව පිහිටයි. බාහු දෙක සමාන අනුක්‍රමයකින් යුක්ත වේ.

**අසමමිතික නැම්ම :**

බාහු දෙක එකිනෙකට අසමාන අනුක්‍රමයක් පෙන්වන අතර නැමි අක්ෂය පෘථිවියට ලම්භකව නොපිහිටයි. සම්පීඩන බලවේගයට හසුවන ප්‍රදේශයේ ඇති පාෂාණවල ප්‍රතිරෝධක බවේ වෙනස්කම් මත එක බාහුවක් අනෙක් බාහුවට වඩා දික් වූ විට අසමමිතික නැම්මක් නිර්මාණය වේ.

**උලැඟි නැම්ම :**

මෙම නැම්මේ අක්ෂීය තලය පෘථිවි පෘෂ්ඨය දෙසට යොමු වී තිබේ. යටි නැම්ම සම්පූර්ණයෙන්ම වැසී තිබේ. අඩු තරමින් එක් බාහුවක්වත් $90^0$ වඩා වැඩි කෝණයකින් භ්‍රමණය වී ඇත. මෙම උලැඟි නැම්ම කුඩා ප්‍රතිනති සහ සහනති ගණනාවකින් සමන්විත වේ.

**ඒකානති නැම්ම :**

නැමි පද්ධතියක එක් බාහුවක් ලම්භාකාරව පිහිටීමෙන් ඒකානති නැම්මක් නිර්මාණය වේ. බාහු දෙකේ අනුක්‍රමය අතිශයින් අසමාන වේ. එක් බෑවුමක් මොහොර බෑවුමක් වන අතර අනෙක් බෑවුම මඳ බෑවුම් සහිත වේ.

**සමානති නැම්ම :**

නැමි කිහිපයක් එක්ව ගත් කල ඒ සියල්ලේම නැමි අක්ෂ සාමාන වූ ආනතියකින් යුක්ත වේ. එක් එක් නැම්මේ අක්ෂීය තල එකිනෙකට සමාන්තරව පිහිටයි.

**ඔත් නැම්ම :**

එල්ල වන බලවේග හා පාෂාණ ස්ථරවල අසමානතාව වඩාත් තීව්‍ර වන විට නැම්ම වඩාත් තීව්‍ර වීමෙන් ඉහල බාහුව පහළ බාහුව මත තැම්පත් වී ඔත් නැම්ම නිර්මාණය වේ.

**උඩුනැමි මඩුල්ල හා යටිනැමි මඩුල්ල :**

සම්පීඩන බලවේගවලට ලක් වූ ඇතැම් ප්‍රදේශවල උඩු නැමි හා යටි නැමි සහිත සංකීර්ණ වූ කුඩා නැමි රාශියක් නිර්මාණය වන අතර එවැනි උඩු නැමි හා යටි නැමි ගණනාවකින් සමන්විත විශාල යටි නැම්මක් යටි නැමි මඩුල්ල ලෙස ද කුඩා උඩු නැමි හා යටි නැමි රැසකින් සමන්විත විශාල උඩු නැම්මක් උඩුනැමි මඩුල්ලක් ලෙස ද හැඳින්වේ.

**(iii). ශිලාගෝලය තුළ ක්‍රියාත්මක වන ආතතීය බලවේග මඟින් නිර්මාණය වන විභේද වර්ග තුනක් කෙටියෙන් විස්තර කරන්න.**

**(ලකුණු 2× 3 = 06)**

- සාමාන්‍ය විභේදය
- හෝස්ට් විභේදය
- සෝපාන විභේදය
- සුවිභේද නිම්න
- කුට්ටි විභේදය

**සාමාන්‍ය විභේදය :**

ආතතීය බලය නිසා විභේද තලය මත එම පැති ඉහළට හෝ පහලට යයි. ඒ නිසා සාමාන්‍ය විභේදය නිර්මාණය වේ.

**සුවිභේද නිම්නය :**

පෘථිවි කබොලේ කොටස් සාමාන්තරව පහත් වන විට නැත්නම් ආතතීය බලයෙන් ගිලා බසින විට සුවිභේද නිම්න නිර්මාණය වේ.

**උදා ඃ නැගෙනහිර අප්‍රිකානු සුවිභේද නිම්නය**

**සෝපාන විභේදය :**

පාෂාණ කුට්ටි ගිලා බැසීම නිසා පඩිපෙළක ආකාරය ගත් බෑවුම් නිම්න නිර්මාණය වීමෙන් සෝපාන විභේදය නිර්මාණය වේ.

**උදා ඃ රයින් ගංගා නිම්නය**

**හෝස්ට් විභේදය :**

උතික්ෂිප්ත කුට්ටි ඇල නොවී තිරස්ව පවතින විට ඒවා හෝස්ට් යනුවෙන් හැඳින්වේ. මෙම විභේදය දිගැටි හැඩයෙන් යුක්ත වන අතර විභේදය මඟින් මීටර් 2000 සිට මීටර් 4000 දක්වා උසට කඳුවැටි නිර්මාණය කරනු ලබයි.

**කුට්ටි විභේදය :**

විභේද තල ඔස්සේ කුඩා කුට්ටි උතික්ෂිප්ත වීමෙන් කුට්ටි විභේද නිර්මාණය වේ. මෙහි දී පෘථිවි කබොල බණ්ඩනය වන අතර විවිධ උස මට්ටම්වල හා දිශාවන්ට එම බණ්ඩනය වූ කොටස් විතැන් වීම සිදුවේ.

**ප්‍රතිවර්තන විභේදය :**

ප්‍රතිවර්තන විභේදය යනු විභේද තලයට ආනතව එක් අංශයක් අනෙක් අංශය මත පාර්ශ්විකව තෙරපීමෙන් ඇතිවන භූ රූපයකී. මෙහි දී ලම්බිතය ඃය්බටසබට අ්කක* ඉහළ පහළ ගමන් කරන අතර පාබිතය ඃදෙදඑ අ්කක* එලෙසම පවතී. මෙම චලනය, තෙරපුම හේතුවෙන් සිදුවන අතර භූ කාරක තැටි මායිම් ආසන්නයේ නිරන්තරයෙන් දක්නට ලැබේ. උලැඟි විභේදය ද ප්‍රතිවර්තන විභේදයක් වන අතර $45^0$ වඩා අඩු ආනතියකින් යුක්ත වේ.

**(iv) ඉහළ අක්ෂාංශීය ප්‍රදේශවල ක්‍රියාත්මක වන ප්‍රධාන බහිර්ජන්‍ය බලවේගයක් නිසා නිර්මාණය වන භූ ලක්ෂණ තුනක් සුදුසු රූප සටහන් ඇසුරෙන් පැහැදිලි කරන්න.**

(ලකුණු 2 × 3 = 06)

- ඩ්‍රම්ලින්
- එස්තර
- බිජුපැසි
- මොරේන
- බිහිතැන්න
- රොෂ්මුටෝන්නේ
- ඹ හැඩ නිම්න
- ලම්භ නිම්න/ එල්ලෙන නිම්නය
- පීත්ත පටි විල්/ විල් වැල්
- සර්ක
- පිරමීඩාකාර මුදුන්
- අරේට

**02. (i) ගංගා නිම්නයක සිදුවන ඛාදනය කෙරෙහි බලපාන සාධක හතරක් සඳහන් කරන්න.**

(ලකුණු 0.5 × 4 = 2)

- ගංගාවේ බෑවුම
- භූ ව්‍යුහය
- ඛාදිත ද්‍රව්‍යවල ස්වභාවය
- පාංශු වර්ගය
- නිම්නයේ විශාලත්වය හා හැඩය
- ජලයේ ප්‍රවේගය හා ජල පරිමාව

**(ii) ගංගා නිම්නයක ඛාදනය සිදුවන ක්‍රම තුනක් කෙටියෙන් පැහැදිලි කරන්න.**

(ලකුණු 2 × 3 = 06)

ගංගා ඛාදනය කෙරෙහි බලපාන ප්‍රධාන ක්‍රම වන්නේ උල්ලේඛය, සර්ෂණය, සංසර්ෂණය, ද්‍රාවණය, ද්‍රාව ක්‍රියාව

**උල්ලේඛය :**

ගංගාවක පරිවහනය වන ඛාදිත ද්‍රව්‍ය හේතුවෙන් ගං ඉවුර සිරීයාම.

